8916



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

## 2560 - දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2016(2017) S 3

### (03) ශාසන ඉතිහාසය

පැ තුනයි

මෙම ප්‍රශ්න පත්‍රය කොටස් දෙකකින් සමන්විත වේ. යටත් පිරිසෙයින් එක් කොටසකින් ප්‍රශ්න දෙකක් වත් ඇතුළත් වන සේ තෝරාගෙන ප්‍රශ්න පහකට පමණක් පිළිතුරු සපයන්න.

### I කොටස

1. (i) ධර්මදූත සේවය සඳහා අවශ්‍ය වන කුශලතා භික්ෂු භික්ෂුණී උපාසක උපාසිකා යන සිව්වණක් පිරිස තුළම සංවර්ධනය වන තුරු තමන් වහන්සේ පිරිනිවන් නොපාන බව බුදුරජාණන් වහන්සේ මාරයාට වදාළහ. ශාසන ව්‍යාප්තියට අවශ්‍යවන ඒ කුශලතා නම් කරන්න. *(ලකුණු 06 යි)*

   (ii) 'ධර්මදූත සේවයේ දී අන්‍ය ලබ්ධිකයෝ බුදුරදුන්ටත් ශ්‍රාවකයන්ටත් විවිධ විරෝධතා හා බාධා එල්ල කළහ' යන ප්‍රකාශය තහවුරු කරන්න. *(ලකුණු 06 යි)*

   (iii) බුද්ධ ශාසනයේ ව්‍යාප්තියට අනුග්‍රහ කළ බුද්ධකාලීන රජවරුන් නම් කර, ඔවුන්ගේ ශාසනික සේවාවන් පැහැදිලි කරන්න. *(ලකුණු 08 යි)*

2. (i) පඨමාභිසම්බෝධියට අයත් මුල් විසිවස තුළ බුද්ධ ශාසනය ව්‍යාප්ත වුණු ජනපද හයක් නම් කරන්න. *(ලකුණු 06 යි)*

   (ii) 'මගධය බුද්ධ ශාසන ව්‍යාප්තියෙහි සුවිශේෂ කේන්ද්‍රස්ථානයක් විය.' පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

   (iii) භාරතයෙහි වූ චිරන්තන 'චෛතිය' කිහිපයක් නම් කර, චිරන්තන ආගමික විශ්වාස කෙරෙහි බුදුන් වහන්සේ දැක් වූ සහනශීලී ආකල්පය ශාසන ව්‍යාප්තියට හේතු වූ ආකාරය විස්තර කරන්න. *(ලකුණු 08 යි)*

3. (i) ඒහි භික්ෂු ප්‍රව්‍රජ්‍යාව ලද සයනමක් නම් කර, ඒහි භික්ෂු ප්‍රව්‍රජ්‍යාව ඉල්ලා සිටීමේ ප්‍රකාශයත් එම ප්‍රව්‍රජ්‍යාව ලබාදීමේ ප්‍රකාශයත් සඳහන් කරන්න. *(ලකුණු 06 යි)*

   (ii) සංඝ සමාජය ව්‍යාප්ත වීමේ දී ප්‍රව්‍රජ්‍යාව හා උපසම්පදාව පිළිබඳ කාර්යයන් වර්ධනය වූ ආකාරය විස්තර කරන්න. *(ලකුණු 06 යි)*

   (iii) 'භික්ෂු ජීවිතයේ අරමුණුවලට ප්‍රතිවිරුද්ධ සිදුවීම් වැළැක්වීමට හා පාලනයට විනය නීති පැනවිණි' යන ප්‍රකාශය පැහැදිලි කරන්න. *(ලකුණු 08 යි)*

4. (i) නිගණ්ඨනාථපුත්‍ර ශාස්තෘවරයාගේ අභාවයෙන් නිගණ්ඨ පිරිස දෙකඩ වූ පසු ආනන්ද තෙරුන් චුන්ද හිමියන් සමග බුදුරදුන් හමුවට ගොස් ඒ බව දැන් වූ විට බුදුරදුන් දුන් උපදෙස් සඳහන් කරන්න. *(ලකුණු 06 යි)*

   (ii) එම අවස්ථාව පිළිබඳව සැරියුත් හිමියන් කළ ප්‍රකාශය ලියා දක්වන්න. *(ලකුණු 06 යි)*

   (iii) පළමු ධර්ම සංගායනාවට පාදක වූ කරුණු, සංගීතිකාරක තෙරවරු, ස්ථානය, අනුග්‍රහය හා ප්‍රතිඵල ප්‍රකට වන සේ පළමු ධර්ම සංගායනාව පිළිබඳ විස්තරයක් කරන්න. *(ලකුණු 08 යි)*

[ 2 වැනි පිටුව බලන්න.

## II කොටස

**5.** (i) ධර්මාශෝක රජතුමා විසින් සිදුකළ ශාසන ශෝධනයට පසුබිම සැකසුණු ආකාරය පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

(ii) තුන්වැනි ධර්ම සංගායනාවේ ප්‍රතිඵල විස්තර කරන්න. *(ලකුණු 06 යි)*

(iii) 'තුන්වැනි ධර්ම සංගායනාව පැවැත් වූ බව ඓතිහාසික සත්‍යයකි' යන ප්‍රකාශයට පක්ෂව හා විපක්ෂව අදහස් දක්වන්න. *(ලකුණු 08 යි)*

**6.** (i) ධර්මාශෝක රජතුමා දේවානම්පියතිස්ස රජතුමාට එවූ දහම් පණිවුඩය සඳහන් කරන්න. *(ලකුණු 06 යි)*

(ii) මහින්දාගමනයට පසුබිම සැකසුණු ආකාරය පැහැදිලි කර, ඒ පිළිබඳ සිදුවීම් පිළිවෙළින් දක්වන්න. *(ලකුණු 06 යි)*

(iii) 'මහින්දාගමනයෙන් ලංකාවේ නව සංස්කෘතියකට පදනම සැකසිණි' යන ප්‍රකාශය විමසීමට ලක් කරන්න. *(ලකුණු 08 යි)*

**7.** (i) සංඝමිත්තා තෙරණිය සමග ලක්දිවට වැඩම කළ භික්ෂුණීන් වහන්සේලා සය දෙනෙකු නම් කරන්න. *(ලකුණු 06 යි)*

(ii) සංඝමිත්තා තෙරණියගේ ලක්දිවට වැඩම වීමට පසුබිම සැකසුණු ආකාරය පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

(iii) ශ්‍රී ලංකාවේ භික්ෂුණී ශාසනයේ ආරම්භය, වර්ධනය හා විකාශය විස්තර කරන්න. *(ලකුණු 08 යි)*

**8.** පහත සඳහන් මාතෘකා අතරින් **හතරක්** තෝරාගෙන කෙටි සටහන් ලියන්න.

(i) ශාක්‍ය ජනපදය

(ii) අජාසත් රජතුමා

(iii) දශ වස්තුව

(iv) ලක්දිව විනය සංගායනාව

(v) අභයගිරි විහාරය

(vi) මහමෙවුනා උයන පූජා කිරීම

(vii) ලක්දිවට ශ්‍රී මහා බෝධිය වැඩම වීම

(viii) පොළොන්නරු දළදා මාලිගාව

*(ලකුණු 05 × 4 = 20 යි)*

***